

අලුත්නුවර දේවාලයේ

# දැඩිමුණ්ඩ දෙවි වතගොත

සහ

# වත්පිළිවෙත්

සුනිලා ඕවිටගෙදර

DMI x D.

# අලුත්නුවර දේවාලයේ
# දැඩිමුණ්ඩ දෙවි වතගොත
# සහ
# වත්පිළිවෙත්

සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලයේ
නර්තන හා නාට්‍ය කලා පීඨයේ
ඉන්දියානු සහ ආසියානු නර්තන අධ්‍යයනාංශයේ අංශ ප්‍රධාන
ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය

ශාස්ත්‍රපති **සුනිලා ඕවිටගෙදර**

(B.F.A. කැලණිය, M.A. ශ්‍රී ජයවර්ධනපුර)
ඩිප්ලෝමා (භරත නාට්‍යම්) භාත්ඛණ්ඩ
විශ්ව විද්‍යාපීඨය ලක්නව් (ඉන්දියාව)
විසිනි.

කර්තෘ ප්‍රකාශනයකි.

## හැඳින්වීම

ශ්‍රී ලාංකික සර්ව දේවමණ්ඩලය තුළ දැඩිමුණ්ඩ දෙවි ද ප්‍රබල කෙනෙකි. ඒ බව අප විසින් කරන ලද මෙම අධ්‍යයනයෙන් වඩාත් තහවුරු කොට ඇත. විශාල ක්ෂේත්‍රයක් පුරා බලය පතුරුවා සිටින මෙම දෙවියන් පිළිබඳ පුළුල් අධ්‍යයනයක් මෙතෙක් සිදුකොට නොමැති බැවින් එකී අඩුව පිරිමසාලමින් සර්වදේව මණ්ඩලයේ සුවිශේෂ කාර්ය භාරයක් ඉටු කරන දෙවියකු වශයෙන් දැඩිමුණ්ඩ දේවතා බණ්ඩාර දෙවියන් හඳුනා ගැනීමට මෙම අධ්‍යයනයෙන් අපට අවස්ථාව සැලසුණි.

දැඩිමුණ්ඩ දෙවියන් එක් ගමකට, ප්‍රදේශයකට හෝ පළාතකට පමණක් සීමා වූ දෙවියකු නො වන බව උඩරට, පහතරට හා සබරගමු නර්තන සම්ප්‍රදායන් තුනෙහි ම ශාන්තිකර්මවල විශේෂ කාර්ය භාරයක් හා සම්බන්ධ ව සිටීම තුළින් පැහැදිලි වෙයි. විශේෂයෙන් මෙම නර්තන සම්ප්‍රදායයන් තුනෙහි මඩු තෝත්‍ර, යක් තොවිල් හා බලි ශාන්තිකර්මවල ''දැඩිමුණ්ඩ දෙවියන්'' දේවතා බණ්ඩාර හෝ ''වාහල දෙවි'' නමින් යක්ෂ, ප්‍රේත, භූත යනාදී අමනුෂ්‍ය පිරිස් අවනත කර ගැනීමේ ක්‍රියාවලියට සම්බන්ධ වෙමින් සුවිශේෂ කාර්ය භාරයක් ඉටු කරන අයුරු මෙම අධ්‍යයනයේ දී අපට පැහැදිලි කර ගත හැකි විය.

අලුත්නුවර දේවාලයේ 'දැඩිමුණ්ඩ දෙවි වත ගොත හා වත් පිළිවෙත්' නම් වූ මෙම කුඩා කෘතිය දේවාලයට නිතර පැමිණෙන බැතිමතුන් හෙවත් සාමාන්‍ය ජනතාව උදෙසා ම රචනා කරන ලද්දේ දේවාලය පිළිබඳ තොරතුරු සහ දැඩිමුණ්ඩ දෙවි වතගොත දැනගැනීමට ඔවුනු බලාපොරොත්තුවෙන් සිටින නිසාවෙනි.

## අලුත්නුවර දේවාලය පිහිටීම

කෑගල්ල දිස්ත්‍රික්කයේ 'ගලබඩ කෝරළය' මැද පත්තුවට අයත් අලුත්නුවර නම් ග්‍රාම සේවා කොට්ඨාශයෙහි 'අලුත්නුවර දේවාලය' පිහිටා ඇත. ඓතිහාසික මෙන් ම ආගමික හා සමාජීය වශයෙන් ද වැදගත්කමක් උසුලන්නා වූ සතර කෝරලයෙහි ඇති ස්ථාන රාශිය අතරෙහි මෙම අලුත්නුවර පුරාණ දේවාලය ද වේ. කොළඹ මහනුවර ප්‍රධාන බස් මාර්ගයේ මාවනැල්ල නගරය පසු කර මහනුවර දෙසට සැතපුම් දෙකක් පමණ ගමන් කළ විට හමුවන හිඟුල මන්සන්ධියෙන් දකුණට ඇති අතුරු මාර්ගය ඔස්සේ සැතපුම් හතරක් පමණ ගිය පසු මෙම පුරාණ දේවාලය හමුවේ. දෙවොල පිහිටා ඇති ග්‍රාමය පැරණි මූලාශ්‍රයන්හි හඳුන්වා තිබෙන්නේ 'පද්දාවෙල' යනුවෙනි.

## දේවාලය ඉදිකිරීම

දෙවැනි පරාක්‍රමබාහු රජුගේ මරණින් පසු මෙම දේවාලය ඉදිකිරීම සඳහා බුවනෙකබාහු රජු උනන්දු කර වූ පද්දාවෙල මහා සෑයේ වැඩ සිටි අස්සද්දනා පිරිවෙන් තෙර සාමී නම් වූ මහා යතිවරයෙකු පිළිබඳව ''අලුත්නුවර දේවාලය කරවීම'' නම් පුස්කොළ ලිපියෙන් කරුණු අනාවරණය වේ. දෙවුන්දර ගලතුරුමුල විහාරයේ සිට පැමිණියේ යැයි සැලකෙන තෙරුන් වහන්සේ පද්දාවෙල්පාය යාබද ව අස්සද්දනා පිරිවෙණ

ආරම්භ කර එහි පරිවේණාධිපති වශයෙන් ප්‍රදේශයේ ප්‍රකට වී ඇති බව පැවසේ. දිනක් මෙම තෙර සාමීන්ට උපුල්වන් දෙවියන් සිහිනෙන් පෙනී තමන්ට දේවාලයක් කර දෙන ලෙස දන්වූ බවත්, එකෙණෙහි ඒ හිමියන් ඒ පුවත රජුට දන්වා යවා උපුල්වන් දෙවියන් වෙනුවෙන් දෙවොලක් ඉදි කිරීමට අවශ්‍ය කටයුතු යෙදූ බවත් එහි සඳහන් වේ. අස්සද්දනා පිරිවෙණ් තෙර ස්වාමීන් වැඩ සිටි විහාරයක නටබුන් අද එහි දක්නට නැතත් උපුල්වන් දේවාලය ඉදි කරන ලද මල්වත්ත නම් භූමිය එ නමින් ම දක්නට ඇත. දේවාල භූමිය අසළ ඇති වත්මන් විහාරය හඳුන්වනු ලබන්නේ ද මල්වත්තේ පන්සල යනුවෙනි. දේවාලය තිබූ 'මල්වත්ත' විහාර භූමියේ ම කොටසක් වශයෙන් සැලකේ. දේවාලය ඉදිකිරීම සඳහා මල්වත්ත භූමිය සුදුසු යැයි යෝජනා කළ යතිවරයාණන් වහන්සේ ගම්වාසීන්ගේ ද සහාය ලබා රාජ්‍ය අනුග්‍රහය ඇති ව ඉදිකර වූ උපුල්වන් දේවාලය පිළිබඳ පූර්ණ විස්තරයක් යථෝක්ත ලිපියෙහි ඇතුළත් ය.

පශ්චාත් කාලීන රජවරුන් අලුත්නුවර දේවාලයේ දියුණුව පිණිස නව ගොඩනැගිලි ඉදිකිරීමටත්, අලුත්වැඩියා කිරීම් මෙන් ම ගම්බිම් හා වෙනත් පිදවිලි ආදිය ඔප්පු කිරීමටත් පෙළඹුණේ මෙම දෙවොල උපුල්වන් දෙවියන්ගේ බල ව්‍යාප්තිය පිළිබඳ කේන්ද්‍රස්ථානයක් මෙන් ම වැදගත් දේවාලයක් ද වූ බැවිනි. දඹදෙණි යුගයේ දියුණුව පැවැති උපුල්වන් දෙව් ඇදහීම කුරුණෑගල රාජධානි සමය වන විට ශක්තිය

විශ්වාසය පදනම් කර ගනිමින් තව දුරටත් වර්ධනය වූ අතර එහි උච්චතම අවධිය හැටියට ගම්පොළ හා කෝට්ටේ යුගය හඳුන්වා දිය හැකිය. රජුට හා රටට සෙත් පතා රචනා කරන ලද තිසර, මයුර, හා කෝකිල ආදී සංදේශ කාව්‍යයන් උපුල්වන් දෙවිඳුගේ පිහිට යැද ඇති සැටියෙන් ඒ බව වඩාත් තහවුරු වේ. කුරුණෑගල, ගම්පොළ, කෝට්ටේ හා සීතාවක යුගවල බැතිමතුන්ගේ මහත් පූජෝපහාරයට පාත්‍රව තිබූ අලුත්නුවර දේවාලය මහනුවර අවධිය වන විට මහත් වූ හාස්කම්වලින් පිරි පැවැති ස්ථානයක් වූ බවට කොතෙකුත් සාක්ෂ්‍ය ලැබේ.

## අලුත්නුවර දේවාලයෙහි දැඩිමුණ්ඩ දෙවි බලවත්වීම

අලුත්නුවර දේවාලයෙහි තිබූ දෙවි රුව මහනුවර විෂ්ණු දේවාලයේ තැන්පත් කිරීම සඳහා වැඩම කරවීමෙන් පසු අලුත් දෙවියකුට කැප වූ දේවාලයක් ''අලුත්නුවර ග්‍රාමය'' කේන්ද්‍ර කර ගනිමින් නිර්මාණය වී තිබේ. ''දැඩිමුණ්ඩ'' හෙවත් අලුත්නුවර දේවතා බණ්ඩාර නමින් කා අතරත් ප්‍රසිද්ධ ව සිටි මෙම දෙවියා වරෙක උපුල්වන් දෙවියන්ගේත්, තවත් වරෙක විෂ්ණු දෙවියන්ගේත් අමාත්‍යවරයා (අධිකාරම්) වශයෙන් කටයුතු කළ බව ප්‍රකටය. උපුල්වන් දෙවි රුව සතර කෝරළයේ අලුත්නුවරට ගෙන ආ තැන් පටන් දැඩිමුණ්ඩ නමින් හැඳින්වුණු දෙවියා කටයුතු කර තිබෙන්නේ දේවාලයේ ආරක්ෂකයකුගේ තත්වය ලබමින් සහ ප්‍රධාන දෙවියන්ගේ අන්තේවාසිකයෙකු ද වශයෙනි.

ඇම්බැක්කේ දේවාලයට අධිගෘහිත කතරගම දෙවියන්ගේ අධිකාරම් වශයෙන් ද සේවය කරන ''දැඩිමුණ්ඩ' ඒ නිසාම ''වාහල දේවතා බණ්ඩාර'' වැනි පර්යාය නාමවලින් ද ප්‍රසිද්ධියට පත් ව සිටී.

දැඩිමුණ්ඩ දෙවි අලුත්නුවර දේවාලයෙහි බලවත් වීම සඳහා හේතු කාරක වූ සිද්ධීන් රාශියක් වූ බැවින් මෙම දෙවියා පිළිබඳව මහජනයා අතර දැඩි විශ්වාසයක් හා භක්තියක් ගොඩ නැගී තිබේ. නිර්භීත වූත්, භක්තිවන්ත වූත් ශාසනාරක්ෂක බෞද්ධ, දෙවියකු වශයෙන් ස්වදේශීය තත්වයක් ඇති ව සිටින මෙම දෙවියන් දුකේ දී පිහිට වන, අයුක්තියට දඬුවම් ලබා දෙන දෙවියෙකු ලෙස, යක්ෂයින්ට ද අධිපතිත්වය දරමින් පොදු ජනතාව අතර ඉමහත් ගෞරවයට පාත්‍ර ව සිටියි. යක්ෂයින් මෙල්ල කිරීම සඳහා යක්ෂ සේනාධිපතියකුගෙන් වරම් ලබා ඇතැයි යන ප්‍රවෘත්තියක් මේ 'දෙවියන් වෙත ආරෝපණය කර තිබීම නිසා යක්ෂ, භූත ආදීන්ගෙන් වන්නා වූ දෝෂ දුරු කර ගැනීමෙ අරමුණින් අදත් දේවාලය වෙත දහස් ගණන් ජනයා ඇදී එති.

අලුත්නුවර දේවාලයෙහි ''දැඩිමුණ්ඩ'' දෙවියන් බලවත් වීමට සහ ජනප්‍රිය වීමට හේතු වූ කරුණු රාශියක් ම ජනශ්‍රැතියෙන් අනාවරණය කෙරේ. සකලාංගයන්ගෙන් යුත් තෙමහල් දෙව් මැදුරක් හතර කෝරළයේ අලුත්නුවර ඉදි කිරීමෙන් පසු දැඩිමුණ්ඩ දෙවියෝ

අලුත්නුවර දෙවියන් යනුවෙන් වඩාත් ප්‍රසිද්ධියට පත්ව සිටිති. දේවාලය ඉදිකිරීමෙන් පසු ඇති වූ සිද්ධි සමූහයක් මගින් මෙම දෙවියන් පිළිබඳ ව තවත් පරිණාමයක් ගැන තොරතුරු හෙළි වේ. යථෝක්ත දේවාලයට පිවිසීම සඳහා සුදුසු මාර්ගයක් නොවීම නිසා එය සකස් කිරීමේ කාර්යය ඉටු කිරීමට මුල්වී ක්‍රියා කිරීමෙන් දැඩිමුණ්ඩ දෙවියන් තම බල පරාක්‍රමය පෙන්නුම් කොට ඇත. මාර්ගය හරස් ව තිබූ විශාල ගල් පර්වතය යකුන් ලවා එක් රැයකින් කඩා බිඳ දමා දේවාලයට පිවිසෙන මාර්ග අවහිරතාව මගහරවමින් කළ ක්‍රියාව ජන කවියා හඳුන්වනු ලබන්නේ අද්භූත ප්‍රවෘත්තියක් වශයෙනි. යක්ෂ හා නාග ගෝත්‍ර දෙකට අයත් දෙමාපියන්ට දාව උපන් දැඩිමුණ්ඩ දෙවියන්ට යකුන් ලවා මෙම විස්මය ජනක කාර්යය ඉටු කරවාගත හැකි වූයේ ඔවුන් තම පිය පස නෑයන් වූ නිසා බවට අදහස් පළවේ.

මේ හැර මාර යුද්ධයේ දී බුදුන් වහන්සේ ළඟ නොසෙල් වී සිට දක්වන ලදැයි සැලකෙන වීර ක්‍රියාව, දුටුගැමුණු රජු වෙනුවෙන් යුධ ජයග්‍රහණයෙහි යෙදීමත්, මහනුවරින් සහ ඇම්බැක්කේ ප්‍රදේශයෙන් පරංගීන් පළවා හැරීම සහ අලුත්නුවර දේවාලය පරංගීන්ගෙන් ආරක්ෂා කර ගැනීමත්, මෙම දෙවියන්ගේ ජනප්‍රියත්වයට හේතු වූ අනෙකුත් සිදුවීම් වශයෙන් ජනශ්‍රැතියේ සඳහන්ව ඇත.

මහනුවර සිව් දේවාලය ස්ථාපිත කිරීම සඳහා අලුත්නුවර දේවාලයේ තිබූ දෙව් රූව මහනුවරට වැඩම

කර වූ පසු දඩිමුණ්ඩ දෙවි අද දක්වා ම අලුත්නුවර දේවාලයෙහි ප්‍රධානියා වශයෙන් පුද ලබමින් ජනතා සුබ සෙත සැලසීමෙහි යෙදී සිටියි. දඩිමුණ්ඩ දේවතා බණ්ඩාර විශ්වාසය අලුත්නුවරින් මහනුවරටත්, එ මගින් ගඩලාදෙණිය, ඇම්බැක්ක යනාදී ප්‍රධාන දේවාලය වෙත ව්‍යාප්ත ව ගියේය. මෙහි ප්‍රතිඵලයක් ලෙසින් යට කී දේවාල අභියස ද දඩිමුණ්ඩ දේවතා බණ්ඩාර නමින් කුඩා දේවාලය බැගින් ගොඩ නැගී තිබේ. මේවා හඳුන්වනු ලබන්නේ පල්ලේ දේවාල යනුවෙනි.

**පෞරාණික අගය**

අලුත්නුවර දේවාල පූජා භූමිය තුළ වර්තමානයේ දක්නට ලැබෙන පෞරාණික අගයකින් යුත් ස්ථාන කිහිපය පහත දැක්වේ.

1. වාහල්කඩ සහ පියගැට පෙළ
2. පැරණි උපුල්වන් දේවාලය ඉදිකොට තිබූ ස්ථානය
3. ඉර හඳ ගල
4. මකර තොරණ
5. වැඩ සිටි මාලිගය හෙවත් පත්තිරිප්පුව
6. දඬු මඩුව
7. කීර්ති ශ්‍රී රාජමහා විහාරය

දේවාලයට පිවිසෙන මාර්ග දෙකකි. ඉන් එකක්

පහළ වීදිය ඔස්සේ ද, අනෙක් මාර්ගය ඉහළ වීදිය ඔස්සේ ද වැටී ඇත. පහළ වීදිය පටන් ගන්නා ස්ථානයෙහි තිබෙන 'ගිරුවා අම්බලම' අසලින් ඉහළට විහිදී ඇති මාර්ගය වර්තමාන සංවර්ධන ව්‍යාපෘතිය මගින් තහවුරු කරන ලද පියගැට පෙළකින් යුක්ත ය. එහි පඩි සංඛ්‍යාව 60 ක් පමණ වේ. පියගැට පෙළ කෙළවර ඇති 'පහළ වාහල්කඩ දේවාලයේ පෞරාණික ලක්ෂණ රැසක් රැකෙන පරිදි නිර්මාණය කරන ලද්දකි. ඉන් අනතුරුව පල්ලේ මළුවටත්, තවත් පඩි 10 කින් යුත් පියගැට පෙළක් පසු කළ විට උඩමළුව හෙවත් දේවාල මළුවටත් පිවිසිය හැකි ය. ඉහළ වීදිය ඔස්සේ දේවාල භූමියට පිවිසීමේ දී ද වර්තමාන අලුත්වැඩියාවන් මගින් තහවුරු කර ඇති වාහල්කඩක් හමු වේ. එය හඳුන්වනු ලබන්නේ ඉහළ වාහල්කඩ යනුවෙනි.

පැරණි උපුල්වන් දේවාලය පිහිටා තිබූ ස්ථානයේ අද දක්නට ලැබෙන්නේ රුස්ස මාර ගසක් සහ කුඩා පහන් ගෙයක් පමණි.

උඩ වීදිය ඔස්සේ දේවාලයට ඇතුළුවන විට පළමුවෙන් ම හමුවන පෞරාණික වැදගත්කමකින් යුත් ස්ථානය වශයෙන් ඉර හඳ ගල හඳුන්වනු ලැබේ. එය 'හඳ ගල' වශයෙන් ද භාවිත වේ. දේවාලය මළුව සැකසීමේ දී අවහිරයක් ව පැවති ගල් පර්වතය බිඳ දැමීම දේවතා බණ්ඩාරගේ වීර ක්‍රියාවක් හා සම්බන්ධ වන අතර ම එම ප්‍රවෘත්තියට අදාළ ගල් පර්වතයේ ඉතිරි කළා

යැයි විශ්වාස කරන කොටස අද හඳුන්වනු ලබන්නේ 'හඳ ගල' යනුවෙනි. යකුන් විසින් සුනුවිසුනු කර දමන ලද මෙම ගල් පර්වතයේ ඉතිරි කරන ලද කොටස ඉර හඳ පවතින තුරු ආරක්ෂා වී පවතින බව සංකේතවත් කිරීමේ අදහසින් සහ සතර කෝරළයේ කොඩියේ ලාංඡනය සිහිවීමේ අදහසින් මෙම ගලෙහි 'ඉර හඳ' කොටා තිබෙන අයුරු අදත් පැහැදිලිව ම පෙනෙන්නට තිබේ.

දැඩිමුණ්ඩ දේවාලය ඉදිරිපිට තිබෙන 'තොරණ' බැතිමතෙකු විසින් බාරයක් ඔප්පු දීම සඳහා මෑතක දී ඉදි කරන ලද එකක් බව දේවාලය භාර ප්‍රධාන කපු මහතා පවසයි. දේවාලය ඉදිරිපිට සහ පහළ වීදියෙන් දේවාල මාවතට ගොඩ වෙන ස්ථානයේ පිහිටි පඩිපෙළ අසල අලින්ට යටින් ගමන් කළ හැකි පොල් තොරන් දෙකක් බැඳීමේ රාජකාරියක් පෙර පැවැති බවත්, එවැනි රාජකාරී වර්තමානයේ ඉටු නොවන බැවින් මෙබඳු තොරණක් ඉදි කිරීමට අවසර ලබා දුන් බවත්, ඔහු දක්වන අදහස යි.

පහළ වාහල්කඩින් පල්ලේ මළුවට ඇතුළු වූ පසු වම් පැත්තෙන් ඇති ගල්තලාවක් මත ඉදිකොට තිබෙන 'වැඩ සිටි දේවාලය', 'පත්තිරිප්පුව' යන නමින් ද හඳුන්වනු ලැබේ. උපුල්වන් (විෂ්ණු) දෙවි මහනුවරට වැඩමවීමෙන් පසු එම දෙවියන්ගේ අමාත්‍යවරයා ලෙස කටයුතු කළ දැඩිමුණ්ඩ දෙවියන් උදෙසා මුලින් ම කරන ලද දේවාලය මෙය බව පිළිගැනීම යි. යකුන් ලවා වැඩ

ගත් දෑඩිමුණ්ඩ හෙවත් දේවතා බණ්ඩාර දෙවියන් වෙනුවෙන් ඉදි කළ මෙම දෙවොල අද දක්වා ම ආරක්ෂා වී පවත්නා පෞරාණික ගොඩනැගිලිවලින් ප්‍රධානතම එකක් වශයෙන් සලකනු ලැබේ.

දෑඩිමුණ්ඩ දේවාලය ඉදිරිපිට ඇති 'දඬු මඩුව' දේවාල භූමි සැලැස්මට අයත් ගොඩනැගිලි අතුරින් පැරණි ගෘහ නිර්මාණ ලක්ෂණ විදහා දක්වෙන තවත් එක් ගොඩනැගිල්ලක් වශයෙන් හැඳින්විය හැකි ය. එය පශ්චාත් කාලීන නවීකරණයන් තුළින් තහවුරු කරන ලද ගොඩනැගිල්ලකි. රජවරුන් සහ ප්‍රභූවරුන් පුද බිමට පැමිණි අවස්ථාවල අසුන් ගැනීම සඳහා මෙම ගොඩනැගිල්ල වෙන් කොට තබා ඇත. අදත් වාර්ෂික පෙරහැර මංගල්‍යය සඳහා සහභාගී වන මහනුවර විෂ්ණු දේවාලයේ බස්නායක නිළමේ ඇතුළු ප්‍රභූ පිරිස මෙම ගොඩනැගිල්ල තුළ අසුන් ගෙන පෙරහැර නැරඹීම සිරිතක් ව පවතී.

## දේවාලය හා සම්බන්ධ වෙනත් ඓතිහාසික ස්ථාන

අලුත්නුවර දේවාලය හා සම්බන්ධ වෙනත් ඓතිහාසික ස්ථාන රාශියක් ඇත. ඒවා පිළිබඳ නාමාවලියක් පහත සඳහන්ය.

1. කිරි කෝන් ගහ
2. ගිරුවා අම්බලම

3. හිඟුල දේවාලය
4. ගල්ලෑල්ල දේවාලය
5. වැඩ හිටි කන්ද
6. අලුත්නුවර වෙලේ බෝධිය
7. අලුත්නුවර වැව
8. ගිරුවා වත්ත
9. උයන්වත්ත
10. ගිරුවා කුඹුර
11. බලන කඳු කපොල්ල
12. රුකුලගම
13. කීර්ති ශ්‍රී රජමහා විහාරය

දේවාලය දක්වා ගමන් ගන්නා මහා මාර්ගයේ හිඟුල සිට පැමිණෙන මාර්ගයත්, උඩ වීදිය හා පල්ලේ වීදියත් සම්බන්ධ වන තුංමන් හන්දිය හඳුන්වනු ලබන්නේ 'කිරිකෝන් ගහ' පිහිටි ස්ථානය යනුවෙනි. ආවේශ වී දේවාලයට පැමිණෙන බැතිමත්හු 'කිරිකෝන් ගහ' පසුවෙනවාත් සමඟම වෙව්ලන්නටත්, විලාප කියන්නටත් දේවාලයට වැඳ වැටෙන්නටත් පටන් ගන්නා අයුරු අදත් දක්නට ලැබේ. මෙවැනි අය දේවාලය තුළට රැගෙන ආපසු කපුරාළලා කවි කෝල්මුර ගයා ආතුරයා දිෂ්ටි කරවති. තොරතුරු අසා දැනගැනීමෙන් පසු වේවැලෙන් බැට දීමට පළමුව නර ශරීරය අත හැර ඉවත් වන්නැයි තරවටු කරති. මෙවැනි භූතයින් කිරිකෝන් ගහට මාරු වී යන බවට විශ්වාසයක් ද බැතිමතුන් තුළ පවතී.

'හිඟුලේ මල් පැල' නමින් හඳුන්වනු ලැබූ කොළඹ මහනුවර මහා මාර්ගයේ හිඟුල මංසන්ධියේ පිහිටි දැඩිමුණ්ඩ දේවාලය හිඟුලේ දේවාලය නමින් හඳුන්වනු ලැබේ. අලුත්නුවර විෂ්ණු දේවාලය පැවැති සමයේ පවත්වන ලද දේවාල පෙරහැර හිඟුල මංසන්ධිය දක්වා පැමිණි දේවාභරණ එහි තැන්පත් කිරීමක් ද කළ බව පැවසේ. ඉන්පසු පෙරහැර අලුත්නුවර දක්වා ගමන් ගෙන ගෙවදීමෙ චාරිත්‍රයක් පැවතිණි. මහනුවර දෙසට සහ කොළඹ දෙසට ගමන් ගන්නා බොහෝ අය සිරිතක් වශයෙන් හිඟුල මංසන්ධියේ නතර වී දැඩිමුණ්ඩ දෙවියන් උදෙසා පඬුරු ඔප්පු දී නැවත ගමන් අරඹති.

ගල්ලැල්ල දේවාලය යනුවෙන් හඳුන්වනු ලබන්නේ සත් පත්තිනි දේවාලයකි. හිඟුල මංසන්ධියේ සිට අලුත්නුවර දේවාලයට ගමන් ගන්නා මාර්ගයේ එය පිහිටා ඇත. මෙම දේවාලය ගල්තලාවක් මත ඉදි කොට තිබේ. අලුත්නුවර යන එන බැතිමතුන් සිරිතක් වශයෙන් ගල්ලැල්ල දේවාලයට ද ගොස් පත්තිනි දෙවියන් වැඳ පුදා පැමිණීමට පුරුදුව සිටිති.

'ගිරුවා අම්බලම' අලුත්නුවර දේවාලයට පිවිසෙන පල්ලේ වීදිය අසල පිහිටා ඇත. මෙය සමචතුරස්‍රාකාර ගොඩනැගිල්ලකි. කොන් සතරේ ගල්කණු සතර බැගින් පිහිටුවා ඒ මත පේකඩ සහිත දැව බාල්ක යොදා නිමවන ලද කලාත්මක ගොඩනැගිල්ලක් වූ මෙහි පියස්සේ ඉහළ කොටසට පීලි උලු ද, පහළ

කොටසට පෙති උලු ද සෙවිලි කර තිබේ. අලුත්නුවර දේවාලයට පුද පූජා පැවැත්වීමට පැමිණෙන්නා වූ බැතිමතුන්ගේ ගිමන් නිවා ගැනීම උදෙසා මෙය නිමවා ඇත.

විහාර අස්න හෙවත් නාමාවලියේ සඳහන් වන පරිදි අලුත්නුවර හඳුන්වා ඇත්තේ 'කීර්ති ශ්‍රී රජමහා විහාරය' මුල් කොට ගෙනය. පද්දා වෙල්යාය නැමැති පුරාණ ටැම්පිට විහාරය පිහිටි භූමියේ කීර්ති ශ්‍රී රජ මහා විහාරයේ චෛත්‍ය හා දෙමහල් ගොඩනැගිල්ල පිහිටා තිබිණ. මේ විහාරය අයත් මුල් විහාරස්ථානය පිහිටා තිබුණේ ගල්ගනේ ය. ගල්ගනේ විහාරයේ චෛත්‍යයේ වට ප්‍රමාණය අඩි 40 ක් පමණ වේ. හොඳින් ඔප මට්ටම් කළ ගලින් ප්‍රාකාරය සාදා ඇති බෝධි ප්‍රාකාරයේ පැත්තක දිග අඩි 20 ක් පමණ වේ. පද්දාවෙල, ගල්ගනේ යන ස්ථාන දෙකෙහි ම පැතිරී ඇති මේ විහාරස්ථානය අලුත්නුවර කීර්ති ශ්‍රී රජමහා විහාරය නමින් හැඳින්වේ.

## දෛනික තේවාව

අලුත්නුවර දේවාලය සතියේ දින හතම බැතිමතුන් සඳහා විවෘත කරනු ලැබේ. ඒ අනුව සතියේ දිනවල පෙ.ව. 9.00 සිට ප.ව. 1.30 දක්වාත්, ප.ව. 3.00 සිට රාත්‍රී 7.30 දක්වාත්, භාරහාර වීමට, ඔප්පු දීමට සහ යාතිකා කරවා ගැනීමට බැතිමතුන් වෙනුවෙන් ඉඩකඩ සලසා දී තිබේ. පෙ.ව. 8.00 පමණ වන විට කපුරාළලා

පැමිණ දේවාලය විවෘත කොට දෙවියන්ගෙන් අවසර ගැනීම අරමුණු කර ගනිමින් ඇතුළත චාරිත්‍ර විධි ඉටු කරති. සඳුන් කුඩමෙහි තබා ඇති 'සඳුන් ගලෙහි' සඳුන් ගලගා වතුර මිශ්‍ර කොට දෑත් සෝදා පිරිසිදුවීමෙන් අනතුරු ව ඔවුහු මෙම චාරිත්‍ර විධි පවත්වති. එහි දී සුවඳ දුම් ඇල්ලීමත්, සුදු මල් සහ පහන් පූජාවත් කරනු ලබන්නේ කපුරාළලා විසිනි. සියලු චාරිත්‍ර විධි අවසන් වීමෙන් අනතුරුව බැතිමතුන් සඳහා දේවාලය විවෘත කරනු ලැබේ.

බදාදා, සෙනසුරාදා කෙම්මුර දිනවලත්, සඳුදා අවකෙම්මුර දිනයේත් දෙවියන් උදෙසා භාරහාර වීමට, ඔප්පු දීමට සහ යාතිකා කර ගැනීමට පැමිණෙන පිරිස අති විශාලය. එම දිනවල තේවා කටයුතු විශේෂත්වය වන්නේ යාතිකා කිරීමට වැඩිපුර කාලයක් වැය කිරීමයි. කෙම්මුර දිනවල දෙවියන් නරයින්ගේ ඕනෑ එපාකම් ඉටු කිරීමත්, පුද පූජා ලැබීමටත් බලාපොරොත්තුවෙන් සිටින බවට විශ්වාසයක් බැතිමතුන් තුළ පවතී. මේ නිසා ම ප්‍රේතාවේශ වූ හෝ යක්ෂාවේශ වූ අය කෙම්මුර දිනවල වැඩි වශයෙන් දේවාලයට රැගෙන එන අතර දේවාශිර්වාදය ලැබූ ඔවුන් සාමාන්‍ය අය මෙන් ආපසු යන අයුරු අපගේ නිරීක්ෂණවලින් ද ප්‍රත්‍යක්ෂ විය.

## අලුයම්ධූරය

දඩිමුණ්ඩ දෙවියන් වෙනුවෙන් කරනු ලබන ඇතැම් චාරිත්‍ර වාරිත්‍ර අද වන විට අභාවයට පත්ව ඇත. අලුයම්ධූරය වැයී ම ද එබඳු චාරිත්‍රයකි. ඒ වෙනුවෙන් තිබූ රාජකාරී සේවාවන් පවා නො ලැබෙන නිසා පෙරහැර මංගල්‍යය දිනවල අලුයම්ධූරය වැයීම වෙනුවෙන් හේවිසි වාදකයින්ට කුලියක් ගෙවීමට සිදු ව තිබේ. අලුයම 5.00 ට අලුයම්ධූරය වැයීමෙන් පසු ඇතුළත චාරිත්‍ර විධි පවත්වා දේවාලය විවෘත කිරීම පෙර පැවැති පිළිවෙල බවත්, රාජකාරී සේවාවන් ලබා ගැනීමට දේවාලය පාලකයින් උනන්දුවක් නො දැක්වීම නිසා මෙවැනි අත්‍යාවශ්‍ය සේවාවන් පවා නො ලැබෙන බවත් කපුරාළලා පවසති. අලුයම්ධූරය වැයීම අද පෙරහැර මංගල්‍යය දිනවල අවසන් වීරී පෙරහැර පවත්වන දින 11 ට පමණක් සීමා වී තිබේ. හේවිසි වාදකයින්ට කුලියක් ගෙවා මෙම සේවය ද ඉටු කර ගැනීමට සිදු ව ඇත.

## හැන්දෑධූරය

පෙරයම හෙවත් හැන්දෑ යාමයේ පවත්වනු ලබන හේවිසි වාදනය හඳුන්වනු ලබන්නේ 'හැන්දෑධූරය' නමිනි. අලුත්නුවර දේවාලයේ රාත්‍රී 7.30 ට 'හැන්දෑධූරය' වාදනය කිරීම පවත්නා සම්ප්‍රදායයි. පැරණි විෂ්ණු දේවාලය පත්තිරිප්පුව සහ ප්‍රධාන දේවාලය ඉදිරිපිටට යන වාදකයෝ දවුල, තම්මැට්ටම, හොරණෑව යොදා

ගනිමින් මෙම හැන්දෑධූරය වාදනයෙහි යෙදෙති. එක් තැනක පද වට්ටම් කර වැයීමෙන් පසු ගමන් හේවිසි පදයක් වාදනය කරමින් ඊළඟ ස්ථානය දක්වා ගමන් කිරීම එම පිළිවෙළ යි. පෙරහැර මංගල්‍යය පැවැත්වෙන දිනවල වාදකයින් ඉදිරියෙන් 'කිල පන්දම' (කාල පන්දම වශයෙන් ද යෙදේ) ගෙන යන්නා ද ගමන් කරමින් තම රාජකාරිය හා සම්බන්ධ සේවාව ඉටු කරයි. හැන්දෑධූරය අවසන් වූ පසු හේවිසි මුරය යනුවෙන් වෙන ම හේවිසි වාදනයක් දේවාලයේ ඉදිරිපිට සිදු කරයි. පෙරහැර නැති කාලයේ කෙම්මුර දිනවලට තුන්පලේ බෙර වාදනය කර දේවාලය අසල පමණක් හැන්දෑධූරය වාදනය කරනු ලැබේ.

## කෙම්මුර බෙර වැයීම

දෙවියන් උදෙසා පූජාර්ථයෙන් කෙම්මුර දිනවල පවත්වනු ලබන බෙර වාදනය 'කෙම්මුර බෙර' යනුවෙන් හඳුන්වනු ලැබේ. අලුත්නුවර දේවාලයේ 'තුන්පලේ බෙර වැයීම' යනුවෙන් පැරණි විෂ්ණු දේවාලය, පත්තිරිප්පුව සහ දඩිමුණ්ඩ දේවාලය ඉදිරිපිට උඩරට බෙරයෙන් වාදනය කරන පද කොටස 'කෙම්මුර බෙර' නම් වේ. පෙරහැර මංගල්‍යය පැවැත්වෙන කාලය තුළ දිනපතා ම සවසත් හැන්දෑධූරය වැයීමට පළමුවත් 'කෙම්මුර බෙර' වැයීම සාමාන්‍ය පිළිවෙලයි.

## මුරුතැන් පූජාව

'මුරු' යනු දෙවියා ය. දෙවියන්ට පූජා කිරීම සඳහා සූදානම් කළ ආහාරය 'මුරුතැන් නම් වේ. එය 'මුළු තැන්' වශයෙන් ද යෙදේ. 'මුළුතැන් ගෙය' ආහාර පිසින ස්ථානය ලෙසත්, 'මුළුතැන්' යනු දෙවියන්ට හෝ රජුන්ට හෝ පිළියෙල කළ ආකාරය බවත් අර්ථ දැක්වේ. මුරුතැන් පූජාව හෙවත් 'මුරුතැන් බෑම' කපුරාළලා විසින් දෙවියන් වෙනුවෙන් කළ යුතු ව ඇති ප්‍රධාන මෙහෙයක් ලෙස හඳුන්වනු ලැබේ. අලුත්නුවර දේවාලයේ අවුරුද්දේ සාමාන්‍ය දිනවල මුරුතැන් පූජාව පවත්වනු ලබන්නේ බදාදා, සෙනසුරාදා, කෙම්මුර දින දෙකේ දී සහ සඳුදා 'අව කෙම්මුර' දිනයේ රාත්‍රී 7.00 - 9.00 අතර කාලය තුළ ය. එහෙත් වාර්ෂික පෙරහැර මංගල්‍යය පැවැත්වෙන දින 26 න් මුල් දින 15 තුළ පෙරහැර අවසන් වී ගෙවැදුණු පසුවත්, වීථි පෙරහැර පවත්වන දින 11 න් උදේ විශේෂ වීථි පෙරහැර ගෙවැදීමෙන් පසු ව සහ රාත්‍රී වීථි පෙරහැර පිටත් වීමට පළමුව වශයෙන් දිනකට දෙවතාවක් බැගින් ද මුරුතැන් පූජාව පැවැත්වීම සිරිත යි.

දෙවියන් උදෙසා පවත්වන 'පූජා' අතුරින් 'මුරුතැන් පූජාව' සුවිශේෂ එකක් වශයෙන් හැඳින්විය හැකිය. පිසින ලද ආහාර දේව දානය සඳහා භාර නොගන්නා අතර කිසියම් බැතිමතෙකු මුරුතැන් පූජාවක් භාර වූ කල්හි ඒ සඳහා නියම කෙරෙන

ලැයිස්තුවට අදාළ අමුද්‍රව්‍යය පූජාව පවත්වන දිනයේ දහවල් 1.30 ට පෙර දේවාලයට ගෙනැවිත් භාර දිය යුතුය යනු නියමය යි. එවිට මුරුතැන් රාළ ලවා දේව දානය පිළියෙල කොට භාර දුන් තැනැත්තා වෙනුවෙන් දෙවියන්ට පූජා කරනු ලැබේ. දේවාලයට අයත් ගම් සීමාව තුළ මළ ගෙයක් හෝ වෙනත් කිල්ලක් ඇති වුවහොත් එම කිල්ල සිදු වූ දින සිට කෙම්මුර දින තුනක් ගත වන තුරු මුරුතැන් පූජාව පවත්වනු නොලැබේ. සාමාන්‍ය මුරුතැන් පූජාවක් සඳහා පහත සඳහන් ද්‍රව්‍ය දේවාලයට ගෙනැවිත් භාර දීමට නියම කෙරේ.

| | |
|---|---|
| කැකුළු හාල් කිලෝ | 02 යි |
| ග්‍රෑම් 500 බැගින් එළවළු වර්ග | 05 යි |

(මේ සඳහා අළු කෙසෙල්, පුහුල් සහ ගෝවා ගනු නො ලැබේ)

| | |
|---|---|
| මිරිස් කුඩුග්‍රෑම් | 100 යි |
| කහ කුඩු ග්‍රෑම් | 50 යි |
| සරක්කු කුඩු ග්‍රෑම් | 100 යි |
| උළුහාල් ග්‍රෑම් | 50 යි |
| රතු ලූණු ග්‍රෑම් | 250 යි |
| කුරුඳු පොතු ස්වල්පයක් | |
| සුදු ලූණු ග්‍රෑම් | 100 යි |
| අමු මිරිස් ග්‍රෑම් | 100 යි |
| රම්පේ ස්වල්පයක් | |
| කරපිංචා ස්වල්පයක් | |
| දියලුණු පැකට් | 01 යි |

| | |
|---|---|
| පොල් ගෙඩි | 02 යි |
| පොල් තෙල් බෝතල් | 1/2 යි |
| පිරිසිදු කිතුල් පැණි බෝතල් 1/2 ක් හෝ සීනි ග්‍රෑම් 250 යි | |
| බුලත් | 21 යි |
| කරුංකා පුවක් ගෙඩි | 07 යි |
| එනසාල් ග්‍රෑම් | 20 යි |
| කරාබු නැටි ග්‍රෑම් | 20 යි |
| වසාවාසි ග්‍රෑම් | 20 යි |
| සූදුරු ග්‍රෑම් | 20 යි |
| මහදුරු ග්‍රෑම් | 20 යි |
| ඉඟුරු පියල් ග්‍රෑම් | 20 යි |
| හුණු ග්‍රෑම් | 20 යි |
| කට්ටකුමංජල් ග්‍රෑම් | 50 යි |

'මුරුතැන් රාළ' මුරුතැන් පූජාව පිළියෙල කිරීමේ රාජකාරිය භාර ව සිටින පුද්ගලයාය. ස්ත්‍රීන් යොදවා දෙවියන් වෙනුවෙන් ආහාර පිසීමක් සිදු නොවන අතර ම මුරුතැන් පූජාවක් භාර වූ විට ඊට අදාළ බඩු වට්ටෝරුව මෙහි සඳහන් ද්‍රව්‍ය ගෙනැවිත් භාර දෙන ලෙස උපදෙස් ලැබෙන්නේ ද ඒ නිසාවෙනි. 'පිළිහුඩු' ද්‍රව්‍ය යැයි පිළිගැනෙන කිසිවක් දෙවියන් උදෙසා පිළියෙල කරනු ලබන ව්‍යංජනවලට ගනු නොලැබේ. දේවාල කුඹුරු ඉඩම්වලින් ලැබෙන වී හෝ බැතිමතුන් විසින් දේවාලයට පූජා කරන ලද අලුත් වී කොටා සකස් කර ගත් සහල් දේව දානය සඳහා යොදා ගැනීම සිරිත යි. මුරුතැන් පිළියෙල කර ගැනීම සඳහා මුරුතැන් රාළට

තවත් එක් අයෙකුගේ සහාය ලබාගත හැකි අතර දෙදෙනා ම කිළි කුණුවලින් ආරක්ෂා වී සිටිය යුතු ය.

මුරුතැන් පූජාව පිළියෙල කිරීම සඳහා අවශ්‍ය 'දර සැපයීම' දේවාලයේ රාජකාරියක් හා බැඳුණු සේවාවකි. දේවාලයෙන් දෙනු ලබන සුදු පිරුවටයක 'දර මිටියක්' ඔතා මුළුතැන්ගෙය දක්වා ගෙනැවිත් භාරදීම මෙම රාජකාරිය ඉටු කරනු ලබන පිළිවෙල යි. බදාදා, සෙනසුරාදා කෙම්මුර දින දෙක ද, සඳුදා අව කෙම්මුර දින ද, ඇතුළත් වන සේ සතියට දර මිටි තුන බැගින් මාසයට දර මිටි 12 ක් ද, පෙරහැර මංගල්‍යය සඳහා පළමු පෙරහැර දින 15 ට දිනපතා දර මිටිය බැගින් ද සැපයීමට ඔහු මෙම රාජකාරියෙන් බැඳී සිටියි. දේවාලය පිරිසිදු කිරීම ද පැවරී ඇති හෙයින් සියලු සේවාවන් සඳහා දේවාලය සතු කුඹුරක් භුක්ති විඳීමට ලැබී ඇති බව ඔහු පවසයි.

රාත්‍රී නවයට පවත්වන මුරුතැන් පූජාව පිළියෙළ කිරීම සවස දෙකට පමණ ආරම්භ කෙරෙයි. සකස් කොට ගත් මුරුතැන් රිදී 'මණ්ඩවලට' බෙදා හේම කදෙහි තැන්පත් කොට වැඩ සිටින මාළිගය දක්වා ගෙන එනු ලබන්නේ මුරුතැන් රාළ විසිනි. ප්‍රථමයෙන් 'මණ්ඩෙට' එළීම සඳහා සුවඳ දුම් ඇල්ලීම සඳහා අඟුරු දුම්මල කබල, සුදු පිරුවට, කෙණ්ඩිය සහ මුරුතැන් කද ගෙනැවිත් කපුරාළට දීම ඔහුට පැවරී ඇති සේවාවන් ය. චාරිත්‍ර විධි ඉටු කරමින් මුරුතැන් පූජාව පැවැත්වීම

කපුරාළ වෙත පැවරේ.

මුරුතැන් පූජාව අවසන් වන තුරුම වාදකයෝ හේවිසි මණ්ඩපයෙහි සිටිමින් හේවිසි මුරය පවත්වති. දේවාලයේ ප්‍රධාන දොර වසා තැබේ. දේවාලය ඇතුළත තුන්වරක් සක් පිඹීමෙන් මුරුතැන් පූජාව ආරම්භ කළ බවට සංඥාව ලැබුණු පසු හේවිසි වාදනය ආරම්භ කරන අතර බැතිමත්හු දේවාලය ඉදිරිපිට රැස් වෙමින් මෙම දේව පූජාවට දායක වෙති. කපුරාළ විසින් දැඩිමුණ්ඩ දෙවියන් සඳහා මුරුතැන් පූජාව පවත්වා අවසන් කළ පසු සූනියම් දෙවියන් උදෙසා පල්ලේ දේවාලයේ මුරුතැන් පූජාව මුරුතැන් රාළ විසින් පවත්වනු ලැබේ. ඒ සඳහා කපුරාළලා සහභාගී නොවී ම විශේෂත්වයකි. සූනියම් දෙවියන්ගේ මුරුතැන් පූජාව හේම කදෙහි බහා නොගෙන යන අතර එය සුදු පිරුවටයකින් වසා දෑතින් ඔසවා ගෙන ගොස් පූජා කරයි. මුරුතැන් පූජාව සඳහා විනාඩි 20 ක පමණ කාලයක් ගත වේ. හේවිසි වාදකයෝ පූජාව අවසන් වන තෙක් හක්ගෙඩියේ සංඥාව අනුව හේවිසි පද මාරු කරමින් වාදනය කරති. මුරුතැන් රාළ සියලු උපකරණ ආපසු රැගෙන ආවාට පසුව මුරුතැන් පූජාව හමාර කොට මෙතෙක් වේලාවක් පෝලිමේ සිටි බැතිමතුන්ට දේව පූජාව සඳහා දොර විවෘත කිරීම සම්ප්‍රදායය යි.

## වාර්ෂික මංගල්‍යය පිළිබඳ තොරතුරු

### අලුත් සහල් මංගල්‍යය

අලුත්නුවර දේවාලයේ වාර්ෂික මංගල්‍යය සතරින් පළමුවැන්න වූ අලුත් සහල් මංගල්‍යය ජනවාරි මාසයේ පූර පක්ෂයේ දී පැවැත්වීම සාමාන්‍ය සම්ප්‍රදායයි. සිංහලයින්ගේ ප්‍රධාන ජීවනෝපාය වූ වී ගොවිතැන සම්බන්ධයෙන් පවත්වන මෙම සුවිශේෂ මංගලෝත්සවයේ පරමාර්ථය කෘෂිකාර්මික කටයුතුවලට ජාතික හා ආගමික මුහුණුවරක් ලබාදීමත්, ගොවිතැන් ආරක්ෂාව හා සශ්‍රීකත්වය අපේක්ෂා කිරීමත් ය. වෙහෙස මහන්සියෙන් ගොවිතැන් කටයුතුවල යෙදී රැස් කර ගත් අස්වැන්න තම පරිභෝජනය සඳහා ගැනීමට පෙර අග්‍ර සස්‍ය වශයෙන් බුදුන්වහන්සේටත්, දෙවියන්ටත්, නොඉඳුල්ව පූජා කිරීම සමාජ චාරිත්‍රයක්ව පවතින අතරම එය මහත් ඵල ආනිශංස ගෙන දෙන්නක් යැයි මිනිසුන් තුළ විශ්වාසයක් ද පවතී. පූර්වෝක්ති අරමුණ වෙනුවෙන් මහනුවර දළදා මාළිගාව හා සිව් දේවාල අනුරාධපුර ජය ශ්‍රී මහා බෝධිය, කතරගම කිරි වෙහෙර ප්‍රධාන කොට ඇති දිවයිනේ තවත් නොයෙක් බෞද්ධාගමික සිද්ධස්ථාන සහ දේවාලයන්හි වාර්ෂිකව අලුත් සහල් මංගල්‍යය පවත්වනු ලැබේ.

## නානුමුර මංගල්‍යය

අලුත්නුවර දේවාලයේ වාර්ෂිකව පවත්වන ප්‍රධාන මංගල්‍යය සතරින් එකක් වූ 'නානුමුර මංගල්‍යය' අලුත් අවුරුදු උළෙලේ කොටසක් වශයෙන් අප්‍රියෙල් මාසය තුළ දී පවත්වනු ලැබේ. අලුත් අවුරුදු නැකැත් චාරිත්‍රවලට අනුව සියලු වැඩ කටයුතු නවත්වන වේලාවට දේවාලය වසා තැබීමෙන් පසු නැවත විවෘත කරනු ලබන්නේ නානුමුර මංගල්‍යය පැවැත්වීමෙන් පසුව ය. මේ සඳහා අදාළ නැකැත් දළදා මාළිගාවේ නැකැත් මොහොට්ටාල විසින් දියවඩන නිළමේට දැනුම් දුන් පසු ඒ පත්‍රිකා මහනුවර මහා විෂ්ණු දේවාලයට ලබාදෙන අතර එතැනින් අලුත්නුවර දේවාලයට එවීම පවතින සම්ප්‍රදායයි. දේවාලය වසා තබන කාල සීමාව තුළ දිනපතා කෙරෙන තේවාව හෝ බැතිමතුන් උදෙසා යාතිකා කිරීමක් හෝ සිදු කරනු නොලැබේ. ''දේවාලය වසා ඇත'' යනුවෙන් දැන්වීම් පුවරුවක් දේවාලය ඉදිරිපිට ප්‍රදර්ශනය කරනු දක්නට ලැබේ. නානුමුර මංගල්‍යය සඳහා නැකැත් යෙදෙන්නේ සිංහල අවුරුද්දට හිස තෙල් ගා නැකැත් දිනය ඉක්ම වී දින තුන හතරක් ඉකුත් වීමෙන් අනතුරුවය.

නානුමුර මංගල්‍යය සඳහා අලුත්නුවර දේවාලයට ''නානු'' ලැබෙන්නේ මහනුවර ''නාථ'' දේවාලයෙන් ලබා දෙනු ලබන නානුවලිනි. මහනුවර සහ අවට විහාර දේවාලවල නියෝජිතයින් නාථ දේවාලයට පැමිණි පසු

දළදා මාළිගයේ නිළධාරීන් විසින් නම් පොතට අනුව අඩගසා පැරණි චාරිත්‍රානුකූල ව පිළියෙල කරන ලද නානු පිර වූ ''කුඩා මුට්ටි'' එම නියෝජිතයින්ට බෙදා දෙනු ලබයි. අලුත්නුවර රජ මහා විහාරයේ හා දේවාලයෙන් නියෝජිතයෝ දෙදෙනෙක් ඉදිරිපත් විය යුතු වෙති. නානු ලබා ගැනීමෙන් පසුව ඒවා පෙරහැරකින් දේවාලය වෙත රැගෙන ඒම පැරණි චාරිත්‍රයයි. අද එම චාරිත්‍රය වෙනස් ව ගොස් හිඟුල මංසන්ධිය හා දේවාලය අතර මාර්ගයේ නියම කර ගත් කිසියම් ස්ථානයක ගසක එල්ලා තබා එතැන් සිට ඇතකු පිට පෙරහැරකින් දේවාලය කරා නානු රැගෙන ඒම සිදු වේ. නානුමුර මංගල්‍යය පැවැත්වෙන නැකැත් දින එන තෙක් මෙම නානු භාජනය දේවාලයේ තැන්පත් කර තබනු ලැබේ.

නැකැත් දිනයේ දී දේවාලයේ තැන්පත් කොට තිබූ නානුවලට වෙනත් පැහිරි ද්‍රව්‍ය මිශ්‍ර කර ලොකු භාජනයකට දමා නානුමුර කිරීම සඳහා සූදානම් කර ගැනේ. පිරිසිදුව පෙරා සකස් කර ගත් නානුවලින් දේවාභරණ සියල්ල නානුමුර කර, පිරිසිදු පැන්වලින් සෝදා අවසන් වූ පසු නානු භාජන දේවාලයෙන් එළියට එවන අතර එතැනට රැස්වන සියලු දෙනාම එම නානු හිසේ ගා ගැනීමට උනන්දුවක් දක්වති. දේවාභරණ ස්පර්ශ වීමෙන් පසු ලැබෙන නානු හිසේ ගා ගැනීමෙන් සියලු ලෙඩ දුක් නිවාරණය කර ගැනීමත්, දේව පිහිට

නොඅඩුව ලබා ගැනීමත් ඔවුන් තුළ පවත්නා විශ්වාසයයි.

**කාර්තික මංගල්‍යය**

අලුත්නුවර දේවාලයේ කාර්තික මංගල්‍යය ද මහනුවර දළදා මාළිගාව ප්‍රධාන සතර දේවාලයන්හි පවත්වන කාර්තික මංගල්‍යය හා අදටත් සම්බන්ධකම පවත්වයි. අලුත් සහල් මංගල්‍යයට මෙන් කාර්තික මංගල්‍යයට ද අලුත්නුවර දේවාලයට නැකැත් එවනු ලබන්නේ දළදා මාළිගාවේ නැකැත් මොහොට්ටාල විසින් සකස් කර විෂ්ණු දේවාලයට ලබා දෙන ලද නැකැත් පත්‍රයේ පිටපත්ය. දළදා මාළිගයෙන් ලබා දී නාථ දේවාලයේ දී බෙදා දෙන තෙල් ලබා ගැනීම සඳහා චාරිත්‍රයක් වශයෙන් අලුත්නුවර දේවාලයෙන් ද නියෝජිතයකු යවනු ලැබේ. නම් පොතේ පිළිවෙල අනුව විහාර දේවාලවලට ලැබෙන තෙල් ප්‍රමාණය නැළිය බැගිනි. එම තෙල් ප්‍රමාණය දේවාලයට ගෙන ආ පසු ලොකු භාජනයකට දමා අනෙක් තෙල්වලට කලවම් කර පහන් දැල්වීම සිරිතයි. නියමිත නැකතට අනුව දේවාලයේ සහ අවට පහන් දැල්වීම පමණක් මෙදින විශේෂ වශයෙන් සිදු කරයි. දේවාල මළුව සම්පූර්ණයෙන් ම ආලෝකමත් වන අයුරින් භූමිය තුළත්, 'වලාකුළු බැම්ම' තුළ ඇති සිදුරුවලත් මැටි පහන් තබා ඒවා දැල්වීමෙන් ප්‍රදේශය ම ආලෝකමත් කරනු ලැබේ. පෙර වළාකුළු බැම්මක් නොවූ හෙයින් ඒ වෙනුවට පුවක්

පටි සහ කෙසෙල් පතුරුවලින් සාදන ලද වැටවල පහන් දැල්වීම කර ඇති බවට තොරතුරු ලැබේ. මෙම නැකැත් වේලාවට අනුව හේවිසි, හොරණෑ නාදය ඇසෙනවාත් සමඟ ම දේවාලය අවට ඇති සෑම නිවසක ම පාහේ පහන් දැල්වීම සිරිතක් වශයෙන් සිදු කරනු ලැබේ.

පෙරහැර පැවැත්වීමක් හෝ වෙනත් උත්සවයක් මෙදින නොපවත්වන අතර අනෙකුත් දිනවල මෙන් දේවාලයේ සියලු චාරිත්‍ර විධි ඉටුකර මඟුල් බෙර, හේවිසි, සක් හඬ මධ්‍යයේ පහන් පූජාව පවත්වා අවසන් වූ පසු කපුරාළලා එක් වී යාතිකා කොට සෙත් පැතීමෙන් කාර්තික මංගල්‍යයේ කටයුතු නිමාවට පත්වේ.

### වාර්ෂික පෙරහැර මංගල්‍යය

මහනුවර දළදා මාළිගාව, සතර දේවාලය ඇතුලු අවට ප්‍රදේශවල පිහිටා තිබෙන වෙනත් බෞද්ධාගමික සිද්ධස්ථාන සහ දේවාලයන්හි පැවැත්වෙන වාර්ෂික ඇසළ පෙරහැර මංගල්‍යය අතරින් මුල් ම පෙරහැර මංගල්‍යය පවත්වන්නේ අලුත්නුවර දේවාලයේ ය. අනෙකුත් දේවාලවල පෙරහැරවල දක්නට නොලැබෙන සුවිශේෂ ලක්ෂණ කිහිපයක් ම අලුත්නුවර දේවාලය පෙරහැර චාරිත්‍රවල ගැබ් වී තිබෙන අයුරු අපගේ සහභාගීත්ව නිරීක්ෂණ මගින් අනාවරණය කර ගතිමු. මෙම දේවාලයේ එක් වසරක දී පැවැත්වෙන සතර මහා මංගල්‍යයන් අතරින් ප්‍රධාන මංගල්‍යය ලෙස

හඳුන්වන්නේ ද ඇසළ පෙරහැර මංගල්‍යයයි. අලුත්නුවර දේවාලයේ සම්පූර්ණ භාරකාරත්වය මහනුවර විෂ්ණු දේවාලයේ බස්නායක නිළමේ යටතෙහි පවතින නමුත්, වාර්ෂික පෙරහැර මංගල්‍යයට අදාළ සියලු කටයුතු සංවිධානය දේවාලයේ තේවාව භාර කපු මහත්මාගේ ප්‍රධානත්වයෙන් සිදු කෙරෙයි.

## දැඩිමුණ්ඩ දෙවියන්ගේ බලපරාක්‍රමය

* යක්ෂයින්ට අධිපති හා යකුන් ලවා වැඩ ගත් දෙවියකු බැවින් යකුන් දමනය කිරීමටත්, යකුන් වැහුණු අය ඉන් මුදවා ගැනීමට සහ යකුන් පළවා හැරීමටත්, විශේෂ බලයක් ඇති ව සිටීම.
* සියලු ම අමනුෂ්‍ය දෝෂ දුරු කළ හැකි විශේෂ දෙවියෙකු බව
* යකුන් ලවා වැඩ ගනිමින් විශාල ගල් පර්වතයක් එක් රැයකින් කඩා බිඳ දමා අසාමාන්‍ය වීර ක්‍රියාවකට නායකත්වය දුන් බලසම්පන්න දෙවි කෙනෙකු වීම.
* මාර පරාජය කළ බුදුන්වහන්සේ ඉදිරියේ නො සෙල්වී රැකවලෙහි සිට දේවත්වයට පත් වූ, කථා ප්‍රවෘත්තියක් හා සම්බන්ධ එක ම දෙවියා බව.
* ශ්‍රී ලංකාවේ පිහිටි අනෙකුත් දේවාලයන්ට වඩා යකුන් පිළිබඳ ඇති වන උවදුරු දුරු කර දීමට සමත් ප්‍රබල දෙවියෙකු වැඩ සිටින කේන්ද්‍රස්ථානයක්

වශයෙන් අලුත්නුවර දැඩිමුණ්ඩ දේවාලය ප්‍රසිද්ධියට පත්ව තිබීම.

* ලෞකික ජීවිතයේ දුක හා සැප පිළිබඳ ඕනෑ ම බලාපොරොත්තුවක් ඉටු කර දීමේ විශේෂ හැකියාවක් ඇති දෙවියෙකු බව.
* කිසියම් කරදරයකට පිහිට වන්නැයි ඉල්ලා සිටි කල්හි තුන් වරුවක්, දින තුනක්, දින හතක්, හතළිස් පහක් හෝ තුන් මාසයක් ඉක්ම යාමට පළමු ව එකී ඉල්ලීම ඉටුකර දීමට තරම් බලයක් ඇති දෙවියෙකු බව.
* වැරදි කළ අයට දඬුවම් ලබා දී සාධාරණයක් ඉටු කරවාගත හැකි යුක්තිගරුක දෙවියෙකු බව.
* දැඩි සිතක් හා නිර්හිත පෙනුමක් ඇති දෙවියෙකු වීම.
* දේව ගැතියන් කෙරෙහි මානව දයාවෙන් බලා ඔවුන්ගේ අපේක්ෂාවන් ඉටු කර දීමට ක්‍රියා කරන මානව හිතවාදී දෙවියෙකු බව.
* සතර කෝරළයේ ප්‍රදේශාධිපති බලවන්ත දෙවියා වශයෙන් ඇති පිළිගැනීම.
* ආගම් හෝ ජාති භේදයකින් තොර ව එක් එක් පුද්ගලයින්ගේ අභිමතාර්ථයන් ඉටු කර දෙන දෙවියෙකු වීම.
* අනෙකුත් ප්‍රාදේශීය දෙවි දේවතාවුන් මෙන් නොව දැඩිමුණ්ඩ දේවතා බණ්ඩාර දෙවියන්, වෙනත්

දෙවිවරුන්ට අයත් අඩවිවල දී පුද පූජා ලබන දෙවියෙකු වීම.

* ශාන්තිකර්මවල දී ද, යකුන් අවනත කර ගැනීමට හා යකුන් පළවා හැර යක්ෂ දෝෂ ඉවත් කර ගැනීමට හැකි විශේෂ බලයක් ඇති දෙවියෙකු වශයෙන් ප්‍රසිද්ධ වී සිටීම.
* දේව වරමින් කටයුතු කරන පුද්ගලයින් වෙත ආරූඪ වීමට ඇති හැකියාව සහ සාධාරණ සිල්වත් මනුෂ්‍ය ජීවිත ආරක්ෂා කිරීම වෙනුවෙන් නිරන්තරයෙන් කැපවී සිටීම.
* මෙම දෙවියන්ගේ අඩවියෙහි වසංගත රෝගයක්, ගංවතුර තර්ජනයක් හෝ එවැනි ජීවිත හානි ගෙන දෙන වෙනත් කිසිදු උපද්‍රවයක් ඇති නො වන බවට ප්‍රබල විශ්වාසයක් පැවතීම.
* වෙනත් දෙවිවරුන් මෙන් නොව දැඩිමුණ්ඩ දෙවියන් මව් පිය දෙදෙනෙකුට දාව උත්පත්තිය ලබා ඇතැයි විශ්වාස කිරීම.

## දැඩිමුණ්ඩ දෙවි පිහිට පතා භාරවීම

කෑගලු දිස්ත්‍රික්කයේ සතර කෝරළයේ අලුත්නුවර පිහිටා ඇති දැඩිමුණ්ඩ (දේවතා බණ්ඩාර) දේවාලය භාස්කම්වලින් පිරි දේවස්ථානයක් බව බොහෝ දෙනෙකු දන්නා කරුණකි. මෙම දේවාලයෙහි

වර්තමානයෙහි වැඩවසන දැඩිමුණ්ඩ දෙවියන්ගේ පිහිට ලබාගත යුත්තේ කුමන අසනීපයක්, දුකක්, කරදරයක් හෝ උපද්‍රවයක් දුරු කර ගැනීමට ද යන්න පිළිබඳව මනා අවබෝධයක් ජනතාව කෙරෙහි පවතී. පොදුවේ බලන කල සුව නොවී පවතින ලෙඩ රෝගවලින් සුවය ලබාගැනීම, සොර සතුරන්ට දඬුවම ලබාදීම, දරු සම්පත් නො ලද අයට දරු සම්පත් ලබාගැනීමට පිහිටක් පැතීම හා ලැබුණු දරුවන් ආරක්ෂා කර ගැනීම වැනි දහසකුත් එකක් බලාපොරොත්තු ඉටුකරවා ගැනීමට විශේෂයෙන් කෙමමුර දිනවලත් ඒ හැර සතියේ අනෙක් දිනවලත් මෙම දේවාලයට දහස් ගණනින් ජනයා එක්රොක් වෙති. මෙම පිරිස අතර සිටින්නේ සතර කෝරළයේ ජනයා පමණක් ම නොවේ. සැතපුම් සිය ගණන් මඟ ගෙවා පැමිණෙන දිවයිනේ විවිධ පළාත්වල බැතිමත්තු ඒ අතර සිටිති. දැඩිමුණ්ඩ සංකල්පය ශ්‍රී ලාංකික ජන සමාජයේ එක් ප්‍රදේශයකට පමණක් සීමා වූවක් නොවන බව සහ ඔහුගේ අණසක විශාල ප්‍රදේශයක් පුරා ව්‍යාප්ත වී තිබෙන බව නන් දෙසින් දේවාලය කරා පැමිණෙන බැතිමතුන්ගේ සංඛ්‍යාවෙන් වුව ද තහවුරු කෙරේ.

දැඩිමුණ්ඩ දේව ඇදහිල්ල පිළිබඳ දත්ත රැස්කර ගැනීම සඳහා මවිසින් ඉදිරිපත් කරන ලද ප්‍රශ්නාවලියේ ප්‍රශ්න කිහිපයක් මගින් මෙම දෙවියන් උදෙසා භාරවන්නන්ගේ ස්වභාවය, භාරවීමට හේතුව හා බලාපොරොත්තු ඉටුවීමේ ප්‍රවණතාව ගැන ද අවධානය

යොමු කළෙමි. ඒ අනුව භාරහාර වීමට ඉදිරිපත් වූවන් අතර වැඩිහිටියන්, තරුණ තරුණියන්, පාසල් සිසුන්, ව්‍යාපාරිකයින් මෙන් ම උගත්, නූගත්, දුප්පත් හා පොහොසත් සියලු තරාතිරම්වල පුද්ගලයන් ද සිටින බව අනාවරණය කරගත හැකි විය.

සමීක්ෂණයට සම්බන්ධ කරගන්නා ලද ගම්වල පුද්ගලයන් සහ දේවාලයට පැමිණෙන බැතිමතුන් විසින් සපයන ලද තොරතුරු අනුව දැඩිමුණ්ඩ දෙවියන් විෂයයෙහි භාර වීමෙන් සුව වෙතැයි අපේක්ෂා කරන ලෙඩ රෝග හා ඉටුකර ගත හැකි යැයි විශ්වාස කරන අරමුණු පිළිබඳ විස්තරයක් පහත දැක්වේ.

* නඩු හබවලින් ජය ලබා ගැනීම
* සතුරු කරදරවලින් ආරක්ෂා වීම.
* සොරුන් විසින් පැහැර ගන්නා ලද බඩු බාහිරාදිය ලබා ගැනීමට පිහිට වන්නැයි දෙවියන්ගෙන් ඉල්ලා සිටීම.
* සිර දඬුවමට ලක්වූවන් එයින් මුදවා දෙන්නැයි ඉල්ලා සිටීම.
* වසංගත රෝග වැළඳීමෙන් ආරක්ෂා වීම හා වැළඳුණ අය ආරක්ෂා කර ගැනීම.
* යක්ෂ, ප්‍රේත හා භූත දෝෂ වැළඳුණ අය ඒවායින් මුදවා ගැනීම හා ආරක්ෂා කර ගැනීම. මානුෂික

රෝගවලට සහනයක් ලබා ගැනීම.

* විභාගවලින් බලාපොරොත්තු වන ජය ලබා ගැනීම.
* රැකියාවක් ලබා ගැනීම.
* වෙනත් රටක රැකියාවක් සඳහා යාමට පෙර තමන්ව ආරක්ෂා කර දෙන ලෙස ඉල්ලා සිටීම.
* ගමනක් පිටත්වීමට පෙර ආරක්ෂාව උදෙසා පඬුරක් වෙන් කිරීම.
* අලුත් ගෙයක් ඉදිකර ගැනීම, ගෙවල් ආරක්ෂා කරගැනීම හා පවුලේ සාමය රැක ගැනීම.
* ව්‍යාපාරික කටයුතු දියුණු කර ගැනීම, ගොවිතැන් කටයුතු ආරක්ෂා කර ගැනීම සහ වැඩි එලදාවක් අපේක්ෂා කිරීම.
* අලි ඇතුන් වැනි සත්ත්ව සම්පත් ආරක්ෂා කර ගැනීම.
* විවාහ කටයුතු ඉක්මන් කරවා ගැනීම.
* රථවාහන ආරක්ෂා කර දෙන්නැයි ඉල්ලා සිටීම.
* සාමාන්‍ය ජීවිතයේ සියලු කටයුතු සඵල වී අනාගත අභිවෘද්ධිය ළඟා කර ගැනීම.
* දරුවන් ලැබීමට සිටින අයගේ ජීවිත ආරක්ෂා කර ගැනීම.
* උපන් දරුවන් ආරක්ෂා කර ගැනීම සහ කුඩා දරුවන් සම්බන්ධ සියලු කටයුතුවල දී පිහිට යැදීම.

* දේව වරමක් අපේක්ෂාවෙන් සිටින අයගේ බලාපොරොත්තු ඉටු කර ගැනීම.

## භාර ඔප්පු කිරීම හා භාවිත පූජා ද්‍රව්‍ය

දැඩිමුණ්ඩ දෙවියන්ගේ පිහිට පතා දේවාලය වෙත එන බැතිමතුන් තුණුරුවන් සරණ යැමෙන් පසු දෙවියන් ඉදිරියට ගොස් 'භාර' වීම සිරිතයි. ඔවුහු තම තමන්ගේ අභිප්‍රායන් ඉටු වූ පසු නැවත දේවාලය කරා පැමිණ නියමිත පූජා ද්‍රව්‍ය ඔප්පු දී භාර නිදහස් කරගන්නා බවට දේවාලයේ කපුරාළ ලවා යාතිකා කර පොරොන්දුවක් ඇති කර ගනිති. ඒ ඒ අසනීපයේ ස්වභාවය අනුව ඔප්පු දිය යුතු පූජා ද්‍රව්‍යය කවරේ දැයි කපුරාළ විසින් නම් කර දෙනු ලැබේ. ප්‍රාණයට ප්‍රාණයක්, රූපයට රූපයක් හෝ දේවාලයේ ප්‍රයෝජනය සඳහා යොදාගත හැකි වෙනත් උපකරණවලින් යමක් තම භාරය වෙනුවෙන් දැඩිමුණ්ඩ දෙවියන්ගේ නාමයට ඔප්පු සිද්ධ කරදීම සඳහා බැතිමතුන්ට මෙහි දී අවස්ථාව සැලසේ. දැඩිමුණ්ඩ දෙවියන් විෂයයෙහි භාර වීමෙන් ඉටු කරගත හැකි බවට කලින් සඳහන් කරන ලද අරමුණු හා සුව කරගත හැකි ලෙඩ රෝග වෙනුවෙන් ඔප්පු කරන ලද පූජා ද්‍රව්‍ය පිළිබඳව බැතිමතුන්ගෙන් ලබා ගත් තොරතුරු ආශ්‍රය කර ගනිමින් සකස් කරන ලද ලේඛනයක් පහත පළ වේ.

පූජා වට්ටි

කෙසෙල් ගෙඩි, අන්නාසි, දිවුල්, අඹ, පේර, දොඩම්, ඇපල්, මිදි, නාරං, ගස්ලබු, වැල, වරකා ආදී කොට ඇති සියලු ම පළතුරු වර්ග කිසිදු තහංචියකින් තොරව දැඩිමුණ්ඩ දෙවියන් උදෙසා පූජා කරන පූජා වට්ටියට ගනු ලැබේ.

පොල් පැල

දැඩිමුණ්ඩ දෙවියන් විෂයයෙහි දිනකට පූජා කරන පොල් පැල සංඛ්‍යාව ඉතා විශාල ය. පොල් පැලයක් පූජා කිරීම ප්‍රාණයට ප්‍රාණයක් පූජා කිරීම හා සමාන යැයි බැතිමත්හු විශ්වාස කරති. අසාධ්‍ය තත්වයෙන් පසු වන ලෙඩකු වෙනුවෙන් දෙවියන් ඉදිරියට ගොස් 'පොල් පැලයක්' භාරවන්නේ මේ නිසා ය. පොල් පැලය මිනිස් ප්‍රාණය හා සමාන ලෙස සලකනු ලැබේ.

බුලත්

කැවිලි වර්ග

විළඳ (පොරි)

කිර රෙදි

පහන්, ඉටි පන්දම් සහ කපුරු, හඳුන්කූරු ආදී සුවඳ දුම්

තම අභිප්‍රාය ඉෂ්ට වූ පසු පහන් හා සුවඳ දුම්

පූජාවක් ඔප්පු කරන බවට දැඩිමුණ්ඩ දෙවියන් ඉදිරියේ භාරවීමේ සිරිතක් ද පවතී. මෙය ඉටු කරන්නේ පත්තිරිප්පුව හෙවත් වැඩහිටි මාළිගාව ඉදිරිපිට දී ය. 'සංහිඳ' යනුවෙන් ද එය හැඳින්වේ. භාරවීමේ දී කපුරාළ විසින් නියම කරන ලද පහන් සංඛ්‍යාව දල්වා භාරයෙන් නිදහස් විය යුතුය. 'පොල් තෙල්'හෝ ඉටිපන්දම් මේ සඳහා යොදා ගනී. සුවඳ දුම් පූජාව ද මෙම ස්ථානයේ දී ම පවත්වනු ලැබේ.

මල්මාලා සහ මල් වර්ග

පූජා වට්ටිය සමඟ මල් මාලයක් සහ මල් වට්ටියක් ද දැඩිමුණ්ඩ දෙවියන් උදෙසා පූජා කරනු ලැබේ. බැතිමතුන්ගෙන් වැඩි දෙනා මේ සඳහා පිච්ච මලින් තැනූ මල් මාලයක් සහ සමන් පිච්ච මල් වට්ටියක් භාවිත කරති.

පොල් ගෙඩියක්

මී පැණි

කළු උක්

හකුරු

ගිතෙල්

### තැඹිලි

මී පැණි, කළුඋක්, හකුරු, ගිතෙල් වැනි ද්‍රව්‍ය දැඩිමුණ්ඩ දෙවියන්ට විශේෂයෙන් පූජා කරනු ලැබේ. මේවා නො ඉඳුල් විය යුතු ය. තැඹිලි ගසක මුලින් ම හටගත් නො ඉඳුල් තැඹිලි වල්ලක් හෝ ගෙඩියක් මෙම දෙවියන්ට පූජා කරන්නේ භාරවීමේ දී වූ පොරොන්දුව අනුවය.

### රිදී හෝ තඹ රූප

රූපයට රූපයක් ඔප්පු කරන බවට ඕනෑම දෙවියෙකු විෂයයෙහි භාර විය හැකි ව තිබේ. අසනීපය සුව වූ පසු හෝ බලාපොරොත්තුව ඉටු වූ පසු තමා පොරොන්දු වූ පරිදි රිදියෙන් හෝ තඹෙන් කළ කිසියම් රූපයක් දෙවියන්ට ඔප්පු දිය යුතු බව මෙහි අදහසයි.

දැඩිමුණ්ඩ දෙවියන් වෙත ඔප්පු දෙන රූප අතර කුඩා රිදී වාහන, රිදී බයිසිකල්, සත්ව රූප, චෛත්‍යය, බෝධිය හා වෙනත් ගස්, රිදී කඩු, රිදී සැරයටි හා ආයුධ ආදිය දක්නට ලැබේ.

### මැණික්

මැණික් පතල් කර්මාන්තයේ යෙදී සිටින්නන් පතලක් ආරම්භ කිරීමට පළමු ව අලුත්නුවර දේවාලයට පැමිණ භාර වන බවත්, මැණික් ලැබුණ පසු මැණික් ගලක් දේවාලයට ඔප්පු කර භාරය නිදහස් කර ගන්නා බවත්, අලුත්නුවර දේවාලයේ තේවාව භාර දිසානායක කපු මහතා මා සමඟ පැවසීය. (1998.12.25)

රන්දම්වැල්

රනින් නිම වන ලද ආභරණ දැඩිමුණ්ඩ දෙවියන් විෂයයෙහි ඔප්පු දෙන බවට පොරොන්දු වෙමින් භාර වන්නෝ ද සිටිති. විශේෂයෙන් ව්‍යාපාරික කටයුතුවල යෙදී සිටින අය මෙම දෙවියන්ගේ පිහිටෙන් තම ව්‍යාපාර දියුණු වූ පසු දහස් ගණන් වටිනා රන්දම්වැල් ආදිය පූජා කරමින් දැඩිමුණ්ඩ දෙවියන් ඉදිරියේ වූ භාරය නිදහස් කර ගනිති.

වේවැලක්

'වේවැල' දැඩිමුණ්ඩ දෙවියන් අත ඇති ආයුධයකි. මෙම දෙවියන්, යකුන් ලවා වැඩ ගැනීම සඳහා වේවැලින් බැට දුන් බව ජනශ්‍රැතියේ ද සඳහන් ය. අදත් යක්ෂාවේශ වූවන් දේවාලයට රැගෙන ආපසු අවනත කර ගැනීමට අපහසු නම් ඔහුට වේවැලින් පහර තුනක් ගසා යක්ෂාවේශය දුරු කොට සුවපත් කිරීමට කපු මහත්වරු ක්‍රියා කරති. 'වේවැල' දැඩිමුණ්ඩ දෙවියන්ගේ අණ ක්‍රියාත්මක කරන්නේ යැයි විශ්වාස කරන බැවින් බැතිමත්හු ද පූජා වට්ටියක් සමඟ වේවැලක් ඔප්පු දී භාරයෙන් නිදහස් වෙති.

මුරුතැන් පූජාව

මුරුතැන් පූජාවක් භාර වී ඇත්නම් එයින් නිදහස් වීමට මුරුතැන් කදක් දේවාලයට ගෙනැවිත් ඔප්පු කළ යුතුය. මුරුතැන් කදේ එක් පැත්තක වී, පොල්, එළවළු, තුනපහ වර්ග, හාල් ආදී මුරුතැන් පිසීමට ගන්නා සියලු

ද්‍රව්‍ය සහ මී පැණි හෝ කිතුල් පැණි, හකුරු, මුලත්, පුවක් වැනි අවශේෂ ද්‍රව්‍යයන් ද, අනෙක් පැත්තේ කෝලිකුට්ටු කෙසෙල් කැනක් ද සමඟ දේවාලයට ගෙනැවිත් ඔප්පු කර භාරය නිදහස් කර ගැනීම පැරණි චාරිත්‍රයයි. අළුකෙසෙල්, අළුපුහුල් කිළි සහිත බැවින් මුරුතැන් පූජාවට නොගන්නා අතර ගෝවා, පතෝල හැර අනෙකුත් එළවළු වර්ග 07 ක්, 14 ක් හෝ 21 ක් ගත යුතු යැයි නියමය යි. මුරුතැන් පූජාව සකස් කරනු ලබන්නේ දේවාලය තුළ දී ම පමණි.

කිරි ආහාර

ධාන්‍ය වර්ග

කෘෂි කර්මාන්තයෙහි යෙදෙන්නෝ තම අස්වැන්නෙන් මුල් කොටස දෙවියන් වෙනුවෙන් වෙන් කරති. එය උඩරට පළාත්වල 'දෙයියන්ගෙ වී' හෝ 'දෙවියන්ගෙ අස්වැන්න' යනුවෙන් ද හඳුන්වනු ලැබේ. ගොවීහු ක්‍රම කිහිපයක් යටතේ 'අක්යාල' වෙන් කරති. මුලින් ම කැපෙන වී හෝ වෙනත් ධාන්‍ය කරල් මිටිය වෙන් කිරීම, නිවසට ද ගෙන ආ පසු වෙන් කිරීම වැනි ක්‍රම ඉන් කිහිපයකි. ගොවිතැන් කටයුතු ආරම්භ කිරීමට පෙර සිරිතක් වශයෙන් අලුත්නුවර දේවාලයට පැමිණ භාර වන ගොවියෝ තම භාරය ඔප්පු කිරීම සඳහා ඉහත සඳහන් ආකාරයට වෙන් කරන ලද ධාන්‍ය කොටස දේවාලයට ගෙනැවිත් පූජා කරති.

කොප්පරා

භාරවලින් නිදහස් වීමට පූජා කරන ලද කොප්පරා වාර්ෂික පෙරහැර මංගල්ලයේ දිනවල පෙරහැරේ රැගෙන යන දිග ලීයකට සවිකර දල්වනු ලබන පන්දම් (අත් පන්දම්) සඳහා ප්‍රයෝජනයට ගනිති.

තෙල් වර්ග

භාරයට නියම කරන පරිදි පොල්තෙල්, එළඟිතෙල්, තලතෙල්, අබතෙල් හා පස්තෙල් ආදියෙන් දැඩිමුණ්ඩ දෙවියන් උදෙසා පහන් දැල්වීම ද චාරිත්‍රයකි.

පක්ෂීන්

නියම කර ගත් පරිදි තම බලාපොරොත්තු ඉටු වීමෙන් පසු පරෙවියන්, ගේ කුරුල්ලන් ආදී පක්ෂීන් නිදහස් කර යැවීම භාර ඔප්පු කිරීම සඳහා අනුගමනය කරන තවත් ක්‍රමයකි. මේ හැර දැඩිමුණ්ඩ දෙවියන්ගේ වාහනය වශයෙන් සලකන බැවින් කුකුළන් නිදහස් කොට පූජා කිරීමේ සිරිතක් ද පවතී.

අලි, ඇතුන්, ගවයින්, එළුවන් වැනි සිව්පා සතුන්

රාජ්‍ය නායකයින් වැනි ප්‍රභූන් තම අභිප්‍රායන් ඉටුකර ගැනීම සඳහා භාර වූ විට අලි ඇතුන් පූජා කර භාරය නිදහස් කරගත් අවස්ථා ද ඇත. මෙවැනි අරමුණක් සඳහා හිටපු ජනාධිපති රණසිංහ ප්‍රේමදාස මහතා දේවාලයට අලියෙක් පූජා කළේය.

උඩු වියන්, පාවාඩ, පූනනූල් සහ කම්බි වර්ග

දේවාභරණ වැඩම වීමට හා මුරුතැන් ගෙන යාමට අවශ්‍ය උඩු වියන් සහ පාවාඩ පූජා කිරීම සඳහා භාර වන බැතිමත්හු ද සිටිති. මේ හැර උසට උසක් භාරවීම වෙනුවෙන් රිදී කූරක් දේවාලයට පූජා කිරීමේ චාරිත්‍රයක් කලින් පැවතුණ බවත්, ආර්ථික අපහසුකම් නිසා අභාවයට ගිය එ කී චාරිත්‍රය වෙනුවෙන් කම්බි කූරක්, වයර් කැබැල්ලක් හෝ පූනනූලක් පූජා කිරීම ද අද සිරිතය.

අවශේෂ පූජා ද්‍රව්‍ය

දේවාලයේ අඩුපාඩු පිළිබඳ ව කපුරාළලා සමඟ සාකච්ඡා කිරීමෙන් පසු උලු, ගඩොල්, වැලි, සිමෙන්ති යනාදී ගොඩනැගිලි ද්‍රව්‍ය ද පූජා කිරීමට අවස්ථාව ලබාගත හැකිවේ.

මේ අනුව ලෞකික ජීවිතයේ තම අභිමතාර්ථයන් සපුරා ගැනීම සඳහා භාර වීමේ දී දැඩිමුණ්ඩ දෙවියන් වෙනුවෙන් කැප කරන පුද පූජා පුළුල් වශයෙන් මෙසේ වර්ග කළ හැකිය. ආහාර වර්ග, ආහාර නොවන පුද පූජා ද්‍රව්‍ය, එනම්, තෙල්, මල්, පහන්, සුවඳ දුම්, තිර රෙදි, රන්, රිදී, තඹ හා මැණික් යනාදියත්, පැල වර්ග හා සත්ත්වයිනුත් මේ ආකාරයෙන් එම දෙවියන් වෙනුවෙන් කැප කෙරේ.

## ශාන්තිකර්මයන්හි දැඩිමුණ්ඩ දෙවි

දැඩිමුණ්ඩ හෙවත් දේවතා බණ්ඩාර දේව ඇදහිල්ල ශ්‍රී ලාංකික ජන සමාජයේ එක් ප්‍රදේශයකට පමණක් සීමා වූවක් නොවන බව සහ ඔහුගේ අණසක විශාල ප්‍රදේශයක් පුරා ව්‍යාප්තව තිබෙන බව උඩරට, පහතරට හා සබරගමු නර්තන සම්ප්‍රදායයන් තුනට අයත් ශාන්තිකර්ම ක්ෂේත්‍රය විමසා බැලීමෙන් පැහැදිලි කොට ගත හැකිවේ. ශාන්තිකර්ම ක්ෂේත්‍රයේ දැඩිමුණ්ඩ දෙවියන් වෙනුවෙන් ම විශේෂ වූ ශාන්තිකර්මයක් නැති නමුත්, යක්ෂ, භූත, ප්‍රේත, පිසාච, කුම්භාණ්ඩ යනාදී අමනුෂ්‍ය කොටස්වලින් ඇති වන ආතුර පිරිපත දුරලීමට ක්‍රියා කරන ඇදුරන් ශාන්තිකර්මවල දී මෙම දෙවියන්ගේ පිහිට, ආරක්ෂාව අපේක්ෂා කරන අයුරු සහ දැඩිමුණ්ඩ වැනි බලසම්පන්න දෙවිකෙනෙකු මල් යහනාවේ වැඩ සිටීමෙන් අමනුෂ්‍ය කොටස් පළවා හැරීමට ඇදුරා විශාල බලයක් ලබා ගන්නා අයුරු ද සුවිශද ය. මෙම දෙවියන් මගින් යථෝක්ත කාර්යභාරය ඉටුකර ගැනීම සඳහා එක් එක් ශාන්තිකර්ම සම්ප්‍රදාය අනුව විවිධ පුද පූජා පැවැත්වීමෙහි යෙදෙන ඇදුරෝ දෙවියන්ගේ අණ ගුණ සිහි කරන මන්ත්‍ර, කවි කෝල්මුර, කන්නලව් යනාදිය කියමින් අමනුෂ්‍ය පිරිස් සඳහා අදාළ පිදේනි ලබා දෙමින් සහ නැටුම් දක්වමින් යක්ෂ බලවේග යටපත් කර ආතුරයාට සෙත් ශාන්තියක් ලබා දීමට ක්‍රියා කරති.